# හිවලා



# සහ හාවා

# හිවලා

රුසියානු ජනකතාවකිනි




චිත්‍ර

යූරි වස්නෙට්සොව්

# හාවා



අගහස් ප්‍රකාශකයෝ

717/2, මාදින්නාගොඩ, රාජගිරිය.



එකෝමත් එක රටක හාවෙක් හිටියා.



කපටි හිවලෙකුත් හිටියා.



වැහි වහින්නට පටන් ගත්තාම හාවාට කම්මැලි හිතුණා. ඊට පස්සෙ සීත කාලෙ ආවා. හිම වැස්ස වහින්න වුණා. කුණාටු ඇති වුණා. හාවා ගෙයක් හදන්න කල්පනා කරලා, කැලෑවෙන් අතු හොයාගෙන ඇවිල්ලා ගෙයක් හදන්න පටන් ගත්තා. කපටි හිවලා මෙය දුටුවා.

"ඒයි වපර හාමි, නුඹ මොනවද කරන්නේ?" හිවලා හාවාගෙන් ඇහුවා.



"සීතල හන්දා ගෙයක් හදනවා."

"මමත් ගෙයක් හදන්න ඕනෑ." කියලා හිවලා කල්පනා කළා. "හාවා වගේ අතුවලින් නෙවෙයි. හිම කැටවලින් ලොකු මාලිගාවක් හදාගන්නවා!"

හිවලා ලොකු හිම කැට, අයිස් කැට එකතු කරලා ලොකු ගෙයක් හදන්න පටන් ගත්තා.



කපටි හිවලා හිම මාලිගාවෙ වාසය කළා.

හිම මාලිගාවෙ ජනේලෙන් හාවාගේ ගෙය දිහා බලපු හිවලා හිනාවෙලා මෙහෙම කීවා.



"ඒයි වපර හාමි! නුඹේ ගේ හරිම කැතයි. බලපන් මගේ මාලිගාව සුදුම සුදු පාටයි. හරිම ලස්සනයි!"



සීත කාලෙදි හිම මාලිගාවට වෙලා හිවලා සැපෙන් වාසය කළා. වසන්ත කාලය ආ හැටියෙම හිම දියවෙන්න පටන් ගත්තා. හිවලාගේ හිම මාලිගාව දිය වෙලා එකම එක වතුර ගොඩක් වුණා. ගෙයක් නැතිව හිවලා කොහෙ ඉන්නද? කපටි හිවලා හාවා ගෙයින් එළියට යනකල් බලාගෙන හිටියා. හාවා ගියා එළවළු පැළ කරන්න. එතකොට හිවලා හාවාගේ ගේ ඇතුළට රිංගලා දොර වහ ගත්තා.

හාවා ඇවිල්ලා දොරට තට්ටු කළා. දොර ඇරියේ නැහැ. ආයෙමත් දොරට තට්ටු කළා.



"කවුද මගේ ගෙදර දොරට තට්ටු කරන්නේ?" හිවලා ගොරෝසු කටහඬින් ඇහුවා.

"මම හාවා. ගෙදර අයිතිකාරයා. දොර ඇරපන් හිවල් හාමි"

"වපර හාමි පලයන් යන්න" හිවලා කීවා.

හාවා නැවත වරක් මෙහෙම කීවා.

"හිවල් හාමි සෙල්ලම් නොකර දොර ඇරපන්. මට නිදිමතයි"

හිවලා කෑ ගැසුවා. "මම දැන් එළියට බැහැලා කොස්සක් අරගෙන නුඹට හොඳටම ගහනවා. නුඹේ ඇටකටු කඩනවා."

හාවා අඬ අඬා ඉබාගාතේ යන්න ගියා. ඔහොම යනකොට යනකොට ඌට හමුවුණා වෘකයෙකුව.

"ආයුබෝවන් වපර හාමි! මොකද අඬන්නේ?"

"මම අතුපැලවලින් ගෙයක් හදාගත්තා. කපටි හිවලා හිමකැටවලින් ගෙයක් හදා ගත්තා. හිම දියවෙලා යනකොට හිවලාගේ ගෙයත් දියවෙලා ගියා. හිවලා මගේ ගෙට ඇතුළු වෙලා දොර වහගෙන, මාව එළවා දැම්මා. ඉතින් මම නාඬා ඉන්නේ කොහොම ද?"

"නුඹ බයවෙන්නට එපා. අඬන්නත් එපා. අපි ඌව එළවා දමමු" වෘකයා කීවා.

"කොහොමද එළවන්නේ, කපටි හාමි ගේ ඇතුළට වෙලා දොර වහගෙන ඉන්නවා" හාවා කීවා.

"ඔය කපටි හිවලා එළවා නොදැම්මොත් මම එහෙනම් වෘකයා නොවෙයි!"

හාවා සතුටු වෙලා වෘකයාත් එක්ක ගෙදරට ගියා.

"ඒයි කපටි හාමි!. නුඹ අනුන්ගෙ ගෙදරට රිංගලා ඉන්නේ මොකද? බැහැපන් එළියට!" වෘකයා කෑ ගැසුවා.

එතකොට හිවලා මෙහෙම කියනවා.

"මම දැන් දොර ඇරගෙන එළියට ඇවිල්ලා කොස්සෙන් නුඹට ගහලා නුඹේ ඇට කටු කඩනවා!"

"අපොයි, අපොයි, හිවලාට කේන්ති ගිහින්" වෘකයා බයවෙලා වලිගය වනලා කැලෑවට දිව්වා. හාවා පිට්ටනියට වෙලා අඬන්න පටන් ගත්තා.

එතැනට මී හරකෙක් ආවා.

"ආයුබෝවන් වපර හාමි! මොකද නුඹ අඬන්නේ?" කියලා මී හරකා ඇහුවා.

"මම අතු පැලවලින් ගෙයක් හදාගත්තා. කපටි හිවලා හිම කැටවලින් ගෙයක් හදා ගත්තා. හිම දියවෙලා යනකොට හිවලාගේ



ගෙයත් දියවෙලා ගියා. හිවලා මගේ ගෙට ඇතුළු වෙලා දොර වහගෙන, මාව එළවා දැම්මා. ඉතින් මම නාඩා ඉන්නේ කොහොම ද?" හාවා කීවා.

"නුඹ බයවෙන්න එපා. අඬන්නත් එපා. අපි ඌව එළවා දමමු" මී හරකා හාවාට කීවා.

"අපොයි නුඹට බැහැ. කපටි හිවලා දොර අගුළු දමා ගෙන ඉන්නවා. වෘකයාටත් බැරි වුණා ඌව එළවන්න. නුඹටත් බැහැ"

"ඔය කපටි හිවලාව එළවා නොදැම්මොත් මම මී හරකා නෙවෙයි!" මී හරකා කීවා.



හාවා සතුටු වෙලා මී හරකාත් සමග කපටි හිවලා ළඟට ගියා.

"ඒයි කපටි හිවලා! ඉක්මනට අනුන්ගෙ ගෙදරින් එළියට බැහැපන්!" කියලා මී හරකා කෑ ගැහුවා.

එතකොට හිවලා මෙහෙම කිව්වා.

"මම දැන් දොර ඇරගෙන එළියට ඇවිල්ලා කොස්සෙන් නුඹට ගහලා නුඹේ ඇටකටු කඩන්නම්"

"අපොයි, අපොයි, හිවලා හරිම නපුරුයි!" බය වුණු මී හරකා ඔලුව වනලා යන්න ගියා.

හාවා කැලෑව අයිනේ ඉඳගෙන අඬන්න පටන් ගත්තා.

ඌ අඬනවා දුටු වලහා ඌ ළඟට ආවා.

"ආයුබෝවන් වපර හාමි! නුඹ අඬන්නේ මොකද?" වලහා ඇහුවා.

"මම කැලෑවෙ අතු පැලවලින් ගෙයක් හදාගෙන හිටියා. කපටි හිවලා හිමවලින් ගෙයක් හදාගෙන හිටියා. වසන්ත කාලෙදි හිම දියවෙලා යනකොට හිවලාගේ ගෙයත් දියවෙලා ගියා. කපටි හිවලා මගේ ගෙට ඇතුළු වෙලා දොර වහගෙන, මාව එළවා දැම්මා. ඉතින් මම නාඬා ඉන්නේ කොහොම ද?" හාවා කීවා.

"නුඹ බයවෙන්න එපා. අඬන්නත් එපා. අපි ඌව එළවා දමමුකො!" කියලා වලහා කීවා.

"අපොයි නුඹට බැහැ වලස් හාමි. කපටි හිවලා ගෙට ඇතුළු වෙලා දොර අගුළු දමාගෙන ඉන්නවා. ඌව එළවා දමන්න වෘකයාටත් බැරි වුණා, මී හරකාටත් බැරි වුණා. නුඹටත් බැහැ!"

"ඔය කපටි හිවලා එළවා නොදැම්මොත් මම වහලා නෙවෙයි" කියලා ඌ පුරසාරම් කීවා.

හාවා සතුටු වෙලා වලහාත් සමග හිවලා ළඟට ගියා.



"ඒයි කපටි හිවලා! අනුන්ගෙ ගෙදරින් ඉක්මනට එළියට බැහැපන්!" කියලා වලහා ගොරවන්න පටන් ගත්තා.

එතකොට හිවලා මෙහෙම කිව්වා.

"මම දැන් දොර ඇරගෙන එළියට ඇවිල්ලා කොස්සෙන් නුඹට ගහලා නුඹේ ඇට කටු කඩන්නම්"

"අපොයි, අපොයි, හිවලා හරිම නපුරුයි!" කියලා වලහා කිව්වා. ඌත් වෘකයා වගේම, මී හරකා වගේම බය වුණා. ඉතින් වලහාත් පැනලා දිව්වා.

හාවා මොනවා කරන්නද? හාවා ආයෙමත් පාරක් හිවලාට කිව්වා ගෙදරින් පිට වෙන්න කියලා. හිවලා හිනාවෙලා ඌ එළවා දැම්මා. ඉතින් හාවා අඬ අඬා කැලෑවෙ ඇවිද්දා. ඔහොම යනකොට, යනකොට ඌට රතු කුකුළකුව හමු වුණා. ඌ එසේ මෙසේ කුකුළෙක්





නොවෙයි. කඩුවක් කරේ තියාගෙන ඇවිදින පොර කුකුළෙක්.

"ආයුබෝවන් වපර හාමි. කොහොමද සැප සනීප? අඬන්නේ මොකද?" රතු කුකුළා ඇසුවා.

"මට මගේ ගෙදරට අතුල් වෙන්න හිවල් හාමි ඉඩ දෙන්නේ නැත්නම් මම කොහොමද නාඬා ඉන්නේ?" හාවා වෙච්ච දේ රතු කුකුළාට විස්තර කරල කිව්වා.

"නුඹ අඬන්න එපා. අපි උඹව එළවා දමමු!" රතු කුකුළා කීවා.

"කපටි හිවලා එළවන්න ලේසි නැහැ! වෘකයාටත් බැරිවුණා, මී හරකාටත් බැරිවුණා, වලහාටත් බැරි වුණා, ඉතින් නුඹට පුළුවන් ද?" හාවා ඇසුවා.

"හොඳයි! අපි උත්සාහ කරලා බලමු!" හාවයි, කුකුළයි දෙන්නාම හිවලා ළඟට ආවා. ගේ ළඟ හිටගෙන කුකුළා සින්දුවක් කිව්වා.

"පොඩි හාවා රවටාගෙන, උගේ පැලට රිංග ගත්තු
කපටි හාමි අල්ලාගෙන, උගෙ හම ගළවා ගන්නට
රන් කඩුවක් අතින් අරන් - කුකුළා යයි සටන් බිමට!"

කපටි හිවලා රතු කුකුළාගේ සින්දුව අහලා බය වුණා.

"අනේ කුකුළු රාලහාමි! මට සමාවෙන්න! මාව මරන්න එපා!"

කුකුළා හඬලෑවා.

"කොක්කො කෝ කෝ, නුඹෙ බෙල්ල කෝ කෝ!"

එතකොට කපටි හිවලා බොහොම හීන් හඬින් මෙහෙම කිව්වා.

"අනේ කුකුළු රාලහාමි, මට සමාවෙන්න. කබාය ඇඳගන්න අවසර දෙන්න"

අයෙමත් පාරක් රතු කුකුළා සින්දුව කීවා.

**"පොඩි හාවා රවටාගෙන, උගේ පැලට රිංග ගත්තු**
**කපටි හාමි අල්ලාගෙන, උගෙ හම ගළවා ගන්නට**
**රන් කඩුවක් අතින් අරන් - කුකුළා යයි සටන් බිමට!"**

හොඳටම බය වුණු කපටි හිවලා දොර ඇරගෙන පණ එපයි කියලා පැනලා දිව්වා. එදා ඉඳලා හාවයි, කුකුළයි ඒ ගෙදර සතුටින් වාසය කළා.



